## එක් ඇඳුමක් පවුම් දහ...

විය. ධනකුවේරයකු වූ තම මාමා කෙනෙකු ඔනෑ පමණ තමාට මුදල් දෙන්නේ යැයි ඇය ඔප්පු කළාය. තමා දන්නා රාජ්‍ය රහස් එළි කළහොත් බ්‍රිතාන්‍ය

ලන්ඩනයේ වෙස්ට් මිනිස්ටර් පෙදෙසේ පවුම් හැත්තෑපන් දහසක වටිනාකමින් යුත් මහල් නිවාසයක ජීවත් වූ ඇගේ ඇඳුම් පැළඳුම් මෙන්ම ආභ...

# මීගොමුවේ සිසුන් සිව් දෙනෙකුගේ හපන්කමක්

ප්‍රයෝජනයට ගත නොහැකි නිසා ඉවතදමන ලද පරිගණක පරිපථ [කොම්පියුටර්] කොටස් උපයෝගී කර ගනිමින් සිංහල — ඉංග්‍රීසි මිශ්‍රව මුද්‍රණය කළ හැකි පරිගණක යන්ත්‍රයක් මීගමුවේ පාසල් ශිෂ්‍යයින් සිව් දෙනෙකු විසින් සාදනු ලැබ ඇත.

මෙම ශිෂ්‍යයින් සිව් දෙනා ඔවුනොවුන් ප්‍රායෝගිකව ලද දැනුම උපයෝගි කර ගනිමින් කාලයක් මුළුල්లේ ගත් නොපසුබට උත් සාහයක ප්‍රතිඵලයක් වශයෙන් මොවුනට මෙම කොම්පියුටරය නිපදවීමට හැකිවී ඇත.

මෙහි විශේෂත්වය මොවුන් විසින් ලත් ප්‍රායෝගික දැනුම උපයෝගී කර ගෙන මෙම පරිගණක යන්ත්‍රය සෑදීමයි. මීට මොවුන් විසින් පොත්පත් වලින් ලබා ගත් දැනුමද උපයෝගී කර ගෙන තිබේ.

මෙම ශිෂ්‍යයින් සිව් දෙනා මීගමුව හරිශ්චන්ද්‍ර රජයේ මහා විද්‍යාලේ ආදි ශිෂ්‍යයෝය. කොම්පියුටරය සාදන ලද්දේ මීගමුවේ ධම්මික විජේරත්න (22) සම්පත් ගොඩමුන්නේ (22) විපුල ජයම්පති (22) සහ ඇත්වත් (22) රෝහාන් මානමුදලී යන සිව් දෙනායි.

මෙම පරිගණක යන්ත්‍රයෙන් ඕනෑ තරම් සිංහල ඉංග්‍රීසි ලිපි පිටපත් මුද්‍රණය කළ හැක.

ඩබ්ලිව්. නියුබට් ප්‍රනාන්දු




1989 අප්‍රේල් මස 2 වෙනි ඉරිදා (රිවිරැස)